ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

විගණන පරීක්ෂක සේවයේ II වැනි ශ්‍රේණියට විගණන පරීක්ෂකවරුන්
බඳවා ගැනීමේ විවෘත තරග විභාගය - 2016

## (01) ගණකාධිකරණය

පැ තුනයි

ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සපයන්න.

1. (අ) ජල පෙරන යන්ත්‍ර නිෂ්පාදනය කරන සමාගමක් වන සීමිත වෝටර් ටෙක් සමාගමේ, 2016 මාර්තු 31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ගිණුම් පොත්වලින් පහත සඳහන් තොරතුරු උපුටා ගන්නා ලදී.

| | රු. |
|---|---|
| අමුද්‍රව්‍ය මිල දී ගැනුම් | 1 464 000 |
| ඍජු වේතන | 220 000 |
| ගෙන ඒමේ කුලී | 10 000 |
| කර්මාන්තශාලා කුලී | 88 000 |
| විකුණුම් | 2 520 000 |
| කර්මාන්තශාලා විදුලිබලය | 124 000 |
| කර්මාන්තශාලා සුපරීක්ෂණය | 180 000 |
| වක්‍ර ද්‍රව්‍ය | 52 000 |
| යන්ත්‍ර සූත්‍ර ක්ෂය | 48 000 |
| 2015.04.01 දිනට තොග ශේෂ | |
| - අමු ද්‍රව්‍ය | 240 000 |
| - නිමි තොග (ඒකක 60) | 552 000 |
| - නොනිමි තොග | 70 000 |

පහත සඳහන් අමතර තොරතුරු ද ඔබ වෙත සපයා ඇත.

(i) 2016.03.31 දිනට තොග ශේෂ
- අමුද්‍රව්‍ය රු. 180 000
- නොනිමි තොග රු. 92 000

(ii) වර්ෂය තුළ දී ජල පෙරන යන්ත්‍ර දෙකක් රෝහලකට පරිත්‍යාග කළ අතර රු. 24 000 ක් වටිනා අමුද්‍රව්‍ය ගින්නෙන් විනාශ වී ඇත. මේ සම්බන්ධව කිසිවක් පොත්වල සටහන් කර නැත.

(iii) 2016.03.31 දින ජල පෙරන යන්ත්‍ර 78 ක් කර්මාන්තශාලාවේ තිබුණි.

(iv) වර්ෂය තුළ දී ජල පෙරන යන්ත්‍ර 180 ක් විකුණා ඇති අතර මේ තුළ ආරම්භක නිමි තොගය වූ ජල පෙරන යන්ත්‍ර 60 ද ඇතුළත් වේ.

අවශ්‍ය වන්නේ:

පහත සඳහන් තොරතුරු පැහැදිලිව පෙන්නුම් කරමින් 2016 මාර්තු 31 දිනෙන් අවසන් වර්ෂය සඳහා නිෂ්පාදන සහ වෙළෙඳ ගිණුම පිළියෙල කිරීම

- පාරිභෝජනය කළ අමුද්‍රව්‍ය පිරිවැය
- ප්‍රාථමික පිරිවැය
- මුළු නිෂ්පාදන පිරිවැය
- මුළු නිෂ්පාදන පිරිවැය මත පදනම් වූ අවසාන නිමි තොගයේ වටිනාකම
- විකුණූ භාණ්ඩවල පිරිවැය

(ආ) වෙළෙඳ ව්‍යාපාරයක තොග පිරිවැය ඇස්තමේන්තු කිරීමේ දී යොදා ගත හැකි පිරිවැය ක්‍රම දෙකක් නම් කරන්න.

*(ලකුණු 40 යි)*

**2.** සීමිත අරලිය සමාගමේ 2016.03.31 දිනට සැකසූ ශේෂ පිරික්සුම පහත දැක්වේ.

| | රු. '000 | |
|---|---|---|
| | හර (Dr) | බැර (Cr) |
| කොටස් ප්‍රාග්ධනය | | 2 350 |
| වාහන ණය | | 600 |
| විකුණුම් | | 10 000 |
| 2015.04.01 දිනට තොගය | 400 | |
| ගැනුම් | 6 500 | |
| ගෙන ඒමේ කුලී | 400 | |
| සේවක වැටුප් | 800 | |
| අධ්‍යක්ෂ පාරිශ්‍රමික | 500 | |
| විගණන ගාස්තු | 100 | |
| බොල් ණය | 50 | |
| 2015.04.01 දිනට අඩමාන ණය වෙන් කිරීම | | 30 |
| බැංකු ගාස්තු | 20 | |
| ණයකර පොලිය 2015.12.31 ට ගෙවා ඇත. | 90 | |
| විකුණුම් කොමිස් | 200 | |
| බෙදාහැරීමේ වියදම් | 150 | |
| ලද බදු කුලී ආදායම | | 210 |
| පරිපාලන වියදම් | 230 | |
| 12% ණයකර | | 1 000 |
| ලද වට්ටම් | | 100 |
| 2015.04.01 ට ආදායම් බදු වෙන් කිරීම | | 200 |
| ගෙවූ ආදායම් බදු | 550 | |
| ණයගැතියෝ | 230 | |
| ණයහිමියෝ | | 100 |
| ඉඩම් - පිරිවැයට | 2 500 | |
| බෙදාහැරීමේ වාහන - පිරිවැයට | 1 800 | |
| කාර්යාල උපකරණ - පිරිවැයට | 1 000 | |
| 2015.04.01 දිනට සමුච්චිත ක්ෂය | | |
| - බෙදාහැරීමේ වාහන | | 630 |
| - කාර්යාල උපකරණ | | 300 |
| | **15 520** | **15 520** |

පහත සඳහන් තොරතුරු ද ඔබ වෙත සපයනු ලැබේ.

(i) 2016.03.31 දිනට තොග පිරිවැය වටිනාකම රු. 300 000 කි. මෙම තොගයේ ශුද්ධ උපලබ්ධි වටිනාකම (Net Realization Value) රු. 350 000 කි.

(ii) සමාගමට අයත්ව තිබූ ඉඩමක් 2014 වර්ෂයේ සිට මසකට රු. 10 000 බැගින් බද්දට දී තිබේ. 2016 ජනවාරි මාසයේ සිට මෙම මාසික බදු කුලිය රු. 20 000 දක්වා ඉහළ දමන ලදී.

(iii) බොල් ණය ලෙස තව රු. 30 000 ක් කපා හැරිය යුතු බව තීරණය කරන ලද අතර අඩමාන ණය වෙන් කිරීම ඉතිරි ණයගැතියන්ගෙන් 10% ක් වන පරිදි ගැළපිය යුතු ය.

(iv) 2016 ජනවාරි 01 දින රු. 500 000 දරමින් කාර්යාලයේ පාවිච්චිය සඳහා නව කාර්යාල උපකරණ මිල දී ගන්නා ලදී. කෙසේ වුවත් මෙය ගැනුම් ලෙස වාර්තා කර ඇත. කාර්යාල උපකරණ හීනවන ශේෂ ක්‍රමය මත වර්ෂයකට 20% බැගින් ක්ෂය කෙරේ.

[ 3 වැනි පිටුව බලන්න.

(v) 2015 ඔක්තෝම්බර් 01 දින රු. 800 000 කට නව මෝටර් රථයක් මිල දී ගන්නා ලදී. මෙම රථය මිල දී ගැනීමේ දී 2013 ඔක්තෝම්බර් 01 දින රු. 500 000 කට මිල දී ගෙන තිබූ මෝටර් රථයක් රු. 200 000 කට හුවමාරු කරන ලදී. රු. 600 000 ක බැංකු ණයක් 14% ක වාර්ෂික පොලී අනුපාතයකට ලබාගෙන ඉතිරි ශේෂය පියවන ලදී. ලබාගත් ණය රු. 600 000 නව රථයේ පිරිවැය ලෙස බෙදාහැරීම් වාහන ගිණුමට හර කර ණය ගිණුමට බැර කර ඇත. මේ හැර වෙන කිසිම සටහනක් මේ සම්බන්ධව තබා නොමැත. බෙදාහැරීමේ වාහන පිරිවැය මත වර්ෂයකට 20% බැගින් ක්ෂය කරයි.

(vi) වර්ෂය තුළ දී ගෙවූ ආදායම් බදුවලින් රු. 150 000 ක් 2014/2015 වර්ෂය සඳහා වේ. 2015/2016 වර්ෂයේ ආදායම් බදු ප්‍රමාණය රු. 750 000 ලෙස ඇස්තමේන්තු කර ඇත.

(vii) 2016 මාර්තු 31 දිනට ඉදිරියට ගෙවීම් සහ උපචිත වියදම් මෙසේ ය.

| | ඉදිරියට ගෙවීම් | උපචිත වියදම් |
|---|---|---|
| | රු. | රු. |
| බෙදාහැරීමේ වියදම් | 50 000 | - |
| පරිපාලන වියදම් | 75 000 | 45 000 |

අවශ්‍ය වන්නේ:

(1) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ප්‍රසිද්ධ කිරීමට සුදුසු ආකාරයේ තීරු ක්‍රමයට සැකසූ ආදායම් ප්‍රකාශය

(2) සමාගමේ 2016.03.31 දිනට මූල්‍ය තත්ත්වය පිළිබිඹු කෙරෙන ශේෂ පත්‍රය

සැ.යු: ජංගම නොවන වත්කම් හා සමුච්චිත ක්ෂය සම්බන්ධ වෙන වෙනම වෙනස්වීම් ඇතුළුවන ආකාරයට හා වියදම් වර්ගීකරණය සටහන් ආකාරයෙන් වෙන වෙනම ද ඉදිරිපත් කිරීම අවශ්‍ය වේ.

*(ලකුණු 60 යි)*

**3.** රෝහණ තමාගේ ව්‍යාපාරයේ පොත්පත් නිසි ආකාරයට පවත්වාගෙන ගියේ නැත. කෙසේ නමුත් 2016 මාර්තු 31 දින මුදල් ගණන් ගැනීම අනුව රු. 50 000 ක මුදල් ශේෂයක් තිබුණි. එහෙත් මෙයට වඩා වැඩි මුදල් ශේෂයක් තිබිය යුතු බවටත් මුදල් භාරකරු යම් මුදල් ප්‍රමාණයක් රැගෙන ගොස් ඇති බවටත් අයිතිකරු සැක කරයි.

පහත සඳහන් තොරතුරු ඔබට සපයා ඇත.

(i) වර්ෂය තුළ බැංකු ගනුදෙනුවල සාරාංශය.

| | | රු. | රු. |
|---|---|---|---|
| 2015.04.01 දිනට බැංකු ප්‍රකාශය අනුව ශේෂය | | 12 000 | |
| එකතු කළා : තැන්පතු | | 650 000 | |
| | | | 662 000 |
| අඩුකළා : ගෙවීම් | | | |
| | වෙළෙඳ ණයහිමියන්ට | 330 000 | |
| | වේතන | 120 000 | |
| | මෙහෙයුම් වියදම් | 280 000 | (730 000) |
| 2016.03.31 දිනට බැංකු ප්‍රකාශය අනුව අයිරාව | | | (68 000) |

(ii) වෙළෙඳ ණයගැති හා වෙළෙඳ ණයහිමි ශේෂ

| | 2015.04.01 | 2016.03.31 |
|---|---|---|
| | රු. | රු. |
| වෙළෙඳ ණයගැතියෝ | 250 000 | 100 000 |
| වෙළෙඳ ණයහිමියෝ | 120 000 | 200 000 |

(iii) මුළු විකුණුම් රු. 850 000 ක් වූ අතර ඉන් රු. 250 000 ක් අත්පිට වේ. වර්ෂය තුළ ලද වට්ටම් හා දුන් වට්ටම් පිළිවෙළින් රු. 5 000 ක් හා රු. 8 000 ක් විය.

(iv) බොල් ණය ලෙස රු. 2 000 ක් කපා හරින ලද අතර ආපසු යැවුම් හා ආපසු එවුම් පිළිවෙළින් රු. 4 000 ක් හා රු. 6 000 ක් විය.

(v) 2015.04.01 දිනට මුදල් ශේෂය වූ රු. 40 000 හා වර්ෂය තුළ ලැබූ මුදල්වලින් කරන ලද මෙහෙයුම් වියදම් හා ගැනිලි හැර ඉතිරි මුදල් සියල්ලම බැංකු ගත කරන ලෙසට රෝහණ විසින් උපදෙස් දී ඇත.

(vi) වර්ෂය තුළ දී මුදලින් කළ මෙහෙයුම් වියදම් රු. 140 000 ක් වූ අතර මුදලින් කරන ලද ගැනිලි රු. 15 000 කි.

අවශ්‍ය වන්නේ:

(1) ණයගැති පාලන ගිණුම හා ණයහිමි පාලන ගිණුම පිළියෙල කිරීම

(2) 2016.03.31 දිනට තිබිය යුතු මුදල් ශේෂය දක්වමින් ප්‍රකාශයක් පිළියෙල කර මුදල් භාරකරු විසින් රැගෙනගොස් ඇති මුදල් ප්‍රමාණය සොයා දැක්වීම

*(ලකුණු 20 යි)*

4. රිකෝ සමාගම තමන් නිකුත් කරන ද්‍රව්‍ය මිල කිරීම සඳහා පෙර ඇතුළු පෙර පිට (FIFO) ක්‍රමය යොදා ගනී. "X" නමැති ද්‍රව්‍යයට අදාළව පහත දැක්වෙන ගනුදෙනු වර්ෂයේ මුල් කාර්තුවේ දී සිදු විය.

| | | |
|---|---|---|
| ජනවාරි 30 | - | ගැනුම් ඒකක 100, ඒකකයක් රු. 10 බැගින් |
| පෙබරවාරි 12 | - | ගැනුම් ඒකක 50, ඒකකයක් රු.12 බැගින් |
| පෙබරවාරි 18 | - | නිකුත් කිරීම් ඒකක 110 |
| මාර්තු 06 | - | ගැනුම් ඒකක 50, ඒකකයක් රු. 13 බැගින් |
| මාර්තු 20 | - | නිකුත් කිරීම් ඒකක 80 |

අවශ්‍ය වන්නේ:

(1) තොග ලෙජරය පිළියෙල කර මාර්තු 31 දිනට ඉතිරි තොගයේ අගය තීරු ක්‍රමයට පැහැදිලිව දැක්වීම

(2) පෙර ඇතුළු පෙර පිට (FIFO) ක්‍රමයේ වාසි හා අවාසි දැක්වීම

*(ලකුණු 20 යි)*

5. (i) "ගිණුම්කරණ මූලධර්ම" යන පදය කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) "පොදුවේ පිළිගැනීම" ගිණුම්කරණ මූලධර්මයේ දී වැදගත් වනුයේ ඇයි?

(iii) ශ්‍රී ලංකාව තුළ ගිණුම්කරණ මූලධර්ම වැඩි දියුණු කිරීම සඳහා ඇති මූලාශ්‍ර දෙකක් නම් කරන්න.

*(ලකුණු 10 යි)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# විගණන පරීක්ෂක සේවයේ II වැනි ශ්‍රේණියට විගණන පරීක්ෂකවරුන් බඳවා ගැනීමේ විවෘත තරග විභාගය - 2016

## (02) පිරිවැය ගණකාධිකරණය

පැ දෙකයි

ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සපයන්න.

**1.** *ABC* සමාගමෙන් උපුටාගන්නා ලද පහත සඳහන් ප්‍රකාශයෙන් 2016 දෙසැම්බර් මස 31 දිනෙන් අවසන් වන මාස හය සඳහා මාසිකව තොරතුරු දැක්වෙන මුදල් අයවැය ලේඛනයක් පිළියෙල කරන්න.

(අ)

| | රු. (000) | රු. (000) |
|---|---|---|
| විකුණුම් (මාසයක් හිඟව මුදල් ලැබේ) | | 2 400 |
| විකුණුම් පිරිවැය : | | |
| මාසයක් හිඟව මුදල් ගෙවීම් | 1 800 | |
| මිල දී ගත් මාසයේ ම මුදල් ගෙවීම් | 288 | |
| ක්ෂය කිරීම් | 144 | 2 232 |
| අයවැයගත ලාභය | | 168 |

(ආ) මූලධන අයවැය :

| | රු. (000) | රු. (000) |
|---|---|---|
| නව යන්ත්‍රාගාරය සඳහා ගෙවීම් : | | |
| ජූලි | 24 | |
| අගෝස්තු | 50 | |
| සැප්තැම්බර් | 26 | |
| නොවැම්බර් | 100 | 200 |
| අගෝස්තු මස ගෙවිය යුතු තොග වැඩි වීම | | 40 |
| | | 240 |
| ලැබීම් : | | |
| කොටස් ප්‍රාග්ධනයේ නව නිකුතුව (ඔක්තෝබර්) | | 60 |

(ඉ) ශේෂ පත්‍රය :

2016 ජූලි 01 දිනට තත්‍ය

| | රු. (000) | රු. (000) |
|---|---|---|
| වත්කම් : | | |
| ජංගම නොවන වත්කම් | 1 440 | |
| තොග | 200 | |
| ණයගැතියෝ | 420 | |
| මුදල් | 80 | 2 140 |
| බැරකම් : | | |
| ප්‍රාග්ධනය හා සංචිත | 1 712 | |
| බදු (දෙසැම්බර් ගෙවිය යුතු) | 60 | |
| වෙළෙඳ ණයහිමියෝ | 320 | |
| ලාභාංශ (අගෝස්තු ගෙවිය යුතු) | 48 | 2 140 |

*(ලකුණු 25 යි)*

[ 2 වැනි පිටුව බලන්න.

**2.** එළවළු තෙල් එක් ලීටරයක් සඳහා ප්‍රමිත පිරිවැය පහත දැක්වේ.

| | රු. |
|---|---|
| සෘජු ද්‍රව්‍ය (කිලෝග්‍රෑම් 4 ක්, එකක් රු. 6 බැගින්) | 24 |
| සෘජු ශ්‍රමය (පැය 5 ක්, පැයකට රු. 8 බැගින්) | 40 |
| විචල්‍ය පොදුකාර්ය | 10 |
| ස්ථාවර පොදුකාර්ය | 30 |
| ලීටරයක් සඳහා ප්‍රමිත පිරිවැය | 104 |

එළවළු තෙල් ලීටරයක ප්‍රමිත විකුණුම් මිල රු. 120 ක් වන අතර එක් කාලපරිච්ඡේදයක් තුළ අයවැයගත නිෂ්පාදනය කළ යුතු හා විකිණිය යුතු ප්‍රමාණය ලීටර 10 000 කි. විචල්‍ය පොදු කාර්ය පිරිවැය, නිෂ්පාදනය කරනු ලබන ලීටර ගණන අනුව සෘජුවම වෙනස් වන බව උපකල්පනය කෙරේ.

**4 වන කාලපරිච්ඡේදය** තුළ දී ළඟාකර ගන්නා ලද තත්‍ය ප්‍රතිඵලය :

| | රු. (000) | රු. (000) |
|---|---|---|
| විකුණුම් (ලීටර 9 500 ක්) | | 1 177 |
| විකුණුම් පිරිවැය : | | |
| සෘජු ද්‍රව්‍ය (කිලෝග්‍රෑම් 37 000 ක්) | 240 | |
| සෘජු ශ්‍රමය (පැය 49 000 ක්) | 400 | |
| විචල්‍ය පොදුකාර්ය | 94 | |
| ස්ථාවර පොදුකාර්ය | 290 | 1 024 |
| ලාභය | | 153 |

කාලපරිච්ඡේදය ආරම්භයේ හෝ අවසානයේ කෙරීගෙන යන වැඩවල හෝ නිමි භාණ්ඩවල ඉතිරි තොගයක් නොවී ය.

(අ) **4 වන කාලපරිච්ඡේදය** සඳහා පහත සඳහන් විචලනයන් ගණනය කරන්න.

(i) ද්‍රව්‍ය මිල විචලනය

(ii) ද්‍රව්‍ය භාවිත විචලනය

(iii) සෘජු ශ්‍රම අනුපාත විචලනය

(iv) ශ්‍රම කාර්යක්ෂමතා විචලනය

(v) විචල්‍ය පොදුකාර්ය වියදම් විචලනය

(vi) ස්ථාවර පොදුකාර්ය වියදම් විචලනය

(vii) ස්ථාවර පොදුකාර්ය පරිමා විචලනය

(viii) විකුණුම් ආන්තික මිල විචලනය (Sales Margin Price Variance)

(ix) විකුණුම් ආන්තික පරිමා විචලනය (Sales Margin Volume Variance)

(ආ) 4 වන කාලපරිච්ඡේදය සඳහා අයවැයගත හා තත්‍ය ලාභය සැසඳීමේ ප්‍රකාශයක් පිළියෙල කරන්න.

*(ලකුණු 29 යි)*

[ 3 වැනි පිටුව බලන්න.

**3.** *XY* සමාගම නිෂ්පාදන දෙපාර්තමේන්තු තුනකින් [යාන්ත්‍රීකරණය (machining), එකලස් කිරීම (assembling) හා නිමකිරීම (finishing)] සහ සේවා දෙපාර්තමේන්තු දෙකකින් [ද්‍රව්‍ය මෙහෙයවීම (materials handling) හා නිෂ්පාදන පාලන (production control)] වාෂ්පමය ස්ත්‍රික්ක (steam irons) නිෂ්පාදනය කරයි.

අවසාන මාසය සඳහා ස්ත්‍රික්ක 2 000 ක් නිෂ්පාදනය කිරීමේ පිරිවැය පහත සඳහන් පරිදි විය.

ද්‍රව්‍ය :

| | |
|---|---|
| යාන්ත්‍රික වැඩ ඒකකය | රු. 250 000 |
| එකලස් කිරීම | රු. 140 000 |
| නිම කිරීම | රු. 50 000 |
| ද්‍රව්‍ය මෙහෙය වීම | රු. 4 000 |

වැටුප් :

| | | |
|---|---|---|
| යාන්ත්‍රීකරණය | - | පැය 10 000 ක් පැයකට රු. 4 බැගින් |
| එකලස් කිරීම | - | පැය 5 000 ක් පැයකට රු. 3 බැගින් |
| නිම කිරීම | - | පැය 3 000 ක් පැයකට රු. 3.50 බැගින් |
| ද්‍රව්‍ය මෙහෙයවීම | | රු. 8 000 |
| නිෂ්පාදන පාලන | | රු. 11 200 |

වෙනත් පිරිවැය :

| | |
|---|---|
| යාන්ත්‍රික වැඩ ඒකකය | රු. 41 920 |
| එකලස් කිරීම | රු. 12 960 |
| නිම කිරීම | රු. 7 920 |
| ද්‍රව්‍ය මෙහෙය වීම | රු. 8 000 |
| නිෂ්පාදන පාලනය | රු. 2 400 |

සේවා දෙපාර්තමේන්තුවලින් ලැබූ දායකත්වය පහත සඳහන් පරිදි ඇස්තමේන්තු කෙරේ.

නිෂ්පාදන පාලන :

| | |
|---|---|
| යාන්ත්‍රික වැඩ ඒකකය | 40% |
| එකලස් කිරීම | 30% |
| නිම කිරීම | 20% |
| ද්‍රව්‍ය මෙහෙය වීම | 10% |

ද්‍රව්‍ය මෙහෙය වීම :

| | |
|---|---|
| යාන්ත්‍රික වැඩ ඒකකය | 60% |
| එකලස් කිරීම | 30% |
| නිම කිරීම | 10% |

(අ) එක් එක් නිෂ්පාදන දෙපාර්තමේන්තුවලට පොදුකාර්ය වියදම් වෙන්කිරීම (overhead allocated) හා විභජනය කිරීම (apportioned) දැක්වෙන ප්‍රකාශයක් පිළියෙල කරන්න.

(ආ) වාෂ්පමය ස්ත්‍රික්කයක ඒකක පිරිවැය ගණනය කරන්න.

*(ලකුණු 24 යි)*

**4.** කෘෂි නිෂ්පාදන සමාගමක් විසින් විශේෂ නිමවුමක් වූ 'A' නිෂ්පාදනය කරනු ලබයි. 2015 වර්ෂය සඳහා පහත සඳහන් තොරතුරු රැස්කර ගන්නා ලදී.

| | | |
|---|---|---|
| සාමාන්‍ය පාරිභෝජනය (normal usage) | : | සතියකට ඒකක 50 |
| අවම පාරිභෝජනය | : | සතියකට ඒකක 25 |
| උපරිම පාරිභෝජනය | : | සතියකට ඒකක 75 |
| ඇණවුමක් ඉදිරිපත් කිරීමේ පිරිවැය | : | රු. 200 |
| ඒකකයක් ගබඩාවේ තබාගැනීමට යන වාර්ෂික පිරිවැය | : | රු. 26 |
| නැවත ඇණවුම් කිරීමේ කාලය | : | සති 4 සිට සති 6 දක්වා |

ඉහත තොරතුරු උපයෝගී කරගෙන පහත සඳහන් දෑ ගණනය කරන්න.

(අ) නැවත ඇණවුම් ප්‍රමාණය (ROQ/EOQ)

(ආ) නැවත ඇණවුම් මට්ටම (ROL)

(ඉ) අවම තොග මට්ටම

(ඊ) උපරිම තොග මට්ටම

(උ) සාමාන්‍ය (average) තොග මට්ටම

*(ලකුණු 12 යි)*

**5.** යම් නිෂ්පාදනයක ඒකක 1000 ක් විකිණීමට අදාළ තොරතුරු පහත සඳහන් වේ.

| | | |
|---|---|---|
| විකුණුම් | රු. | 10 000 |
| විචල්‍ය පිරිවැය | රු. | 6 000 |
| ස්ථාවර පිරිවැය | රු. | 2 500 |

පහත සඳහන් දෑ ගණනය කරන්න.

(අ) විකුණුම්වලට දායකයේ අනුපාතය (C/S ratio)

(ආ) සමච්ඡේදන ලක්ෂ්‍යයේ විකුණුම් හා ඒකක

(ඉ) ආරක්ෂිත ආන්තිකය (margin of safety)

(ඊ) රු. 2 000 ක් දක්වා ලාභය වැඩි කිරීමට අවශ්‍ය විකුණුම් පරිමාව (ඒකක)

*(ලකුණු 10 යි)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

විගණන පරීක්ෂක සේවයේ II වැනි ශ්‍රේණියට විගණන පරීක්ෂකවරුන්
බඳවා ගැනීමේ විවෘත තරග විභාගය - 2016

## (03) විගණනය

පැ. තුනයි

ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සපයන්න.

1. (i) බාහිර විගණනය හා අභ්‍යන්තර විගණනය අතර ඇති වෙනස පැහැදිලි කරන්න. *(ලකුණු 15 යි)*
   (ii) බාහිර හා අභ්‍යන්තර විගණකයින් දෙදෙනාම පොදුවේ උනන්දුවක් දක්වන ක්ෂේත්‍ර (areas) මොනවා ද? *(ලකුණු 10 යි)*

2. (i) ශ්‍රී ලංකා ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ දැක්වෙන පරිදි විගණකාධිපතිවරයාගේ කාර්යභාරය (role) සඳහන් කරන්න. *(ලකුණු 16 යි)*
   (ii) විගණකාධිපතිවරයාගේ කාර්යභාරය ඉටු කිරීම සඳහා ව්‍යවස්ථාවෙන් ඔහුට ලබා දී ඇති හිමිකම් කවරේ ද? *(ලකුණු 09 යි)*

3. කෙටියෙන් පැහැදිලි කරන්න.
   (i) අභ්‍යන්තර පාලනය හා අභ්‍යන්තර පරීක්ෂාව (Internal Control and Internal Check)
   (ii) සන්නිරීක්ෂණ ප්‍රවේශය හා පද්ධති ප්‍රවේශය (Vouching Approach and Systems Approach)
   (iii) පාලන පරීක්ෂා සහ තහවුරු පරීක්ෂා (Tests of Control and Substantive Tests)
   (iv) ජංගම වගකීම් සහ අසම්භාව්‍ය වගකීම් (Current Liabilities and Contingent Liabilities)
   (v) ස්ථිර විගණන ලිපිගොනුව හා ජංගම විගණන ලිපිගොනුව (Permanent Audit File and Current Audit File)
   *(ලකුණු 05 × 5 = 25 යි)*

4. "ශ්‍රී ලංකා විගණන ප්‍රමිතිවලට අනුව විගණක විසින් තමන් විගණනය කරන මූල්‍ය ප්‍රකාශන පිළිබඳව මතයක් ප්‍රකාශ කළ යුතුය."
   (i) විගණක විසින් **කොන්දේසි රහිත** මතයක් ප්‍රකාශ කළ හැකි අවස්ථා පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*
   (ii) **කොන්දේසි රහිත** මතයක් ප්‍රකාශ කළ නොහැකි අවස්ථා සඳහන් කරන්න. *(ලකුණු 08 යි)*
   (iii) විගණන මතයට අදාළව "විෂය පථය සීමාවීම" යන්න පැහැදිලි කරන්න. *(ලකුණු 12 යි)*

5. විගණනය සඳහා ඔබ වෙත ලැබී ඇති වර්ෂාවසාන ගිණුම් ප්‍රකාශනවල දැක්වෙන පහත සඳහන් අයිතම ඔබ විසින් සන්නිරීක්ෂණය/සත්‍යාපනය කරන්නේ කෙසේ දැයි පැහැදිලි කරන්න.
   (i) අවසාන තොගය
   (ii) ඉඩම් හා ගොඩනැගිලි
   (iii) බැංකු අයිරාව
   (iv) නොනිමි වැඩ
   (v) ස්ථාවර වත්කම් සඳහා ඇති කර තිබෙන ක්ෂය ප්‍රතිපාදන
   *(ලකුණු 05 × 5 = 25 යි)*

6. කෙටි සටහන් ලියන්න.
   (i) ගිණුම්කරණ අනුපාත
   (ii) අභ්‍යන්තර පාලන ප්‍රශ්න මාලා
   (iii) ප්‍රමාණාත්මකභාවය
   (iv) නියෝජන ලිපිය
   (v) ශේෂ පත්‍ර දිනට පසුව හටගන්නා සිදුවීම්
   *(ලකුණු 05 × 5 = 25 යි)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

විගණන පරීක්ෂක සේවයේ II වැනි ශ්‍රේණියට විගණන පරීක්ෂකවරුන්
බඳවා ගැනීමේ විවෘත තරග විභාගය - 2016

**(04) ව්‍යාපාරික ගණිතය සහ සංඛ්‍යානය**

පැ දෙකයි

- (අ) කොටසෙහි පළමුවැනි ප්‍රශ්නය ද, (ආ) සහ (ඉ) කොටස්වලින් ප්‍රශ්න දෙක බැගින් ද තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.
- (අ) කොටසෙහි පළමුවැනි ප්‍රශ්නය සඳහා එක් අනුකොටසකට ලකුණු 05 බැගින් ලකුණු 40 ක් ද, (ආ) සහ (ඉ) කොටස්වල එක් ප්‍රශ්නයකට ලකුණු 15 බැගින් ලකුණු 60 ක් ද ප්‍රදානය කෙරේ.
(ලඝුගණක වගු, සංඛ්‍යාන වගු සහ ප්‍රස්තාර කඩදාසි සපයනු ඇත.)

## (අ) කොටස

**1.** ඔබේ පිළිතුරු පත්‍රයෙහි ප්‍රශ්න අංකයට ඉදිරියෙන් අදාළ වරණය (1), (2) හෝ (3) ලෙස සටහන් කිරීමෙන් නිවැරදි පිළිතුර දක්වන්න.

(i) $(5-2x)(3+x)=0$ සමීකරණයෙහි මූල වන්නේ,

(1) $-\frac{5}{2}, -3$ (2) $\frac{5}{2}, 3$ (3) $\frac{5}{2}, -3$

(ii) $4y = 6x - 36$ සමීකරණයෙන් $x$ අක්ෂය ඡේදනය වන ලක්ෂ්‍යයෙහි ඛණ්ඩාංක වන්නේ,

(1) $(0, -9)$ (2) $(9, 0)$ (3) $(6, 0)$

(iii) $a = 6$, $b = -2$ හා $c = 3$ වූ විට $(a-b)^{\frac{a}{c}}$ හි අගය වන්නේ,

(1) 64 (2) 16 (3) 8

(iv) රුපියල් 12 000 ක මුදලක් වර්ෂයකට $r\%$ බැගින් වූ සුළු පොලියක් යටතේ ආයෝජනය කර වසර 3 කට පසු රුපියල් 17 400 ක මුදලක් ලබා ගත්තේ නම්, $r$ හි අගය විය යුත්තේ,

(1) 10% (2) 12% (3) 15%

(v) $n$ ධන නිඛිලයක් වන විට $\frac{(n+1)!}{(n-1)!} - n^2$ හි අගය වනුයේ,

(1) $n$ (2) 1 (3) $2n$

(vi) භාණ්ඩයක් විකිණීමේ දී එහි ලකුණු කළ මිලෙන් 10% ක වට්ටමක් දෙනු ලැබේ. විකුණූ මිල රු. 810 ක් වන භාණ්ඩයක ලකුණු කරන ලද මිල වනුයේ රුපියල්

(1) 729 (2) 891 (3) 900

(vii) සර්වසම රතු බෝල 5 ක්, සුදු බෝල 4 ක් සහ නිල් බෝල 6 කින් සමන්විත මල්ලකින් සසම්භාවීව තෝරා ගනු ලැබූ බෝල 2 ක්, සුදු බෝල සහ නිල් බෝල වීමේ සම්භාවිතාව වනුයේ,

(1) $4/35$ (2) $6/35$ (3) $8/35$

(viii) 2 , 5 , 8 , 11 , ...... ශ්‍රේඩියෙහි 90 වන පදයෙහි අගය වනුයේ,

(1) 536 (2) 272 (3) 269

[ 2 වන පිටුව බලන්න.

(ආ) කොටස

**2.** ආයතනයක ආදායම් හා පිරිවැය ශ්‍රිත පිළිවෙළින් $R = -x^2 + 800x$ සහ $C = 150x + 30\,000$ මගින් දෙනු ලබයි. මෙහි $x$ යනු නිපදවා විකුණනු ලබන ඒකක ප්‍රමාණය වේ. ආදායම් ශ්‍රිතයේත් පිරිවැය ශ්‍රිතයේත් දළ ප්‍රස්තාර එකම ඛණ්ඩාංක තලය මත අඳින්න.
ඔබේ ප්‍රස්තාර භාවිතයෙන් පහත සඳහන් දෑ නිර්ණය කරන්න.

(i) ආදායම වියදමට සමාන වන ලක්ෂ්‍යය

(ii) උපරිම ලාභ අවස්ථාවේ විකුණුම් මට්ටම

(iii) ආයතනයට ලබා ගත හැකි උපරිම ලාභය

**3.** (i) කාන්තාවන් දෙදෙනෙකුට හා මහතුන් තිදෙනෙකුට එක පෙළකට තබා ඇති අසුන් පහක අසුන් ගැනීමට සිදු වී ඇත. කාන්තාවන් දෙදෙනා එක ළඟ අසුන් නොගන්නේ නම් ඔවුනට අසුන් ගත හැකි එකිනෙකට වෙනස් ආකාර ගණන කොපමණ ද?

(ii) වාර්ෂික පොළී අනුපාතිකය 8% ක් වන කාර්තුමය වශයෙන් පොළිය සංයුක්ත කරනු ලබන ඕනෑම මුදලක් එහි අගය දෙගුණවීම සඳහා ගනු ලබන කාලය කොපමණ ද?

**4.** (i) ගුණෝත්තර ශ්‍රේඪියක පළමු පද තුනෙහි ගුණිතය 512 ක් සහ එහි පස්වන පදය 64 ක් වේ. මෙම ගුණෝත්තර ශ්‍රේඪියෙහි පළමු පදය සහ පොදු අනුපාතය සොයන්න.

(ii) අසල ඇති පාසලක සිසුන්ගෙන් 10% ක් බැඩ්මින්ටන් ක්‍රීඩා කරන බව හා 5% ක් ක්‍රිකට් ක්‍රීඩා කරන බව ක්‍රීඩා බඩු ගබඩාවක කළමනාකරුවකු ඇස්තමේන්තු කර ඇත. තවද බැඩ්මින්ටන් ක්‍රීඩා කරන සිසුන්ගෙන් 40% ක් ක්‍රිකට් ක්‍රීඩාවෙහි ද නිතර වෙයි.

(අ) බැඩ්මින්ටන් හා ක්‍රිකට් යන ක්‍රීඩා දෙකෙහිම නිරත සිසුන්ගේ ප්‍රතිශතය කොපමණ ද?

(ආ) මෙම ක්‍රීඩා දෙකෙන් එක් ක්‍රීඩාවකවත් නොයෙදෙන සිසුන්ගේ ප්‍රතිශතය කොපමණ ද?

(ඉ) තෝරාගත් සිසුවකු ක්‍රිකට් ක්‍රීඩාවෙහි නිරත බව දන්නා විට එම සිසුවා බැඩ්මින්ටන් ක්‍රීඩාවෙහි නිරත අයෙකු වීමේ සම්භාවිතාවය කොපමණ ද?

(ඉ) කොටස

**5.** (i) කේන්ද්‍රික ප්‍රවණතා (central tendency) මිනුම්වල වැදගත්කම විස්තර කර එම මිනුම් තුනක් නම් කරන්න.

(ii) එක්තරා විශ්ව විද්‍යාලයක සිසුන් 100 දෙනෙකුගේ ස්කන්ධය පහත වගුවෙන් දක්වා ඇත.

| ස්කන්ධය (කි.ග්‍රෑම්) | සිසුන් ගණන |
|---|---|
| 60 - 62 | 05 |
| 63 - 65 | 18 |
| 66 - 68 | 42 |
| 69 - 71 | 27 |
| 72 - 74 | 08 |
| එකතුව | 100 |

(අ) මෙහි මාත පන්තිය කුමක් ද?

(ආ) ස්කන්ධවල මධ්‍යන්‍යය හා විචලතාවය සොයන්න.

(ඉ) කිලෝග්‍රෑම් 68 ට වඩා වැඩි ස්කන්ධයක් ඇති සිසුන්ගේ ප්‍රතිශතය ගණනය කරන්න.

**6.** (i) කාල ශ්‍රේණියක අඩංගු සංරචක හතරක් නම් කරන්න.

(ii) උපනතිය (Trend) නිමානය කිරීමට බහුලව භාවිත කරනු ලබන ක්‍රම දෙකක් නම් කරන්න.

(iii) දේශීය මෝටර් රථ අලෙවිකරුවෙක් වර්ෂයක දී විකුණනු ලබන මෝටර් රථ ගණන පහත දත්ත මගින් පෙන්වයි.

| වසර | 2001 | 2002 | 2003 | 2004 | 2005 | 2006 | 2007 |
|---|---|---|---|---|---|---|---|
| මෝටර් රථ ගණන | 1010 | 1125 | 1170 | 1275 | 1394 | 1520 | 1580 |

අඩුතම වර්ග ක්‍රමය (Least Square Method) භාවිත කර උපනති රේඛාවේ සමීකරණය නිමානය කරන්න.

**7.** එක්තරා ප්‍රදේශයක ජීවත්වන මිනිසුන්ගේ, සතියකට රූපවාහිනිය නැරඹීමේ මධ්‍යන්‍ය කාලය නිමානය කිරීම සඳහා මිනිසුන් 50 දෙනෙකුගෙන් යුත් සරල සසම්භාවී නියැදියක් තෝරා ගනී. සංගහන සම්මත අපගමනය පැය 3.8 ලෙස දන්නේ නම්,

(i) නියැදි මධ්‍යන්‍යයේ සම්මත දෝෂය ගණනය කරන්න.

(ii) නියැදි මධ්‍යන්‍ය නැරඹුම් කාලය පැය 15 ක් වේ නම් සංගහන මධ්‍යන්‍යය සඳහා 95% ක විශ්‍රම්භ ප්‍රාන්තරයක් ගොඩනගන්න.

***

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## විගණන පරීක්ෂක සේවයේ II වැනි ශ්‍රේණියට විගණන පරීක්ෂකවරුන් බඳවා ගැනීමේ විවෘත තරග විභාගය - 2016

### (05) පරිසරය

පැ තුනයි

එක් කොටසකින් ප්‍රශ්න දෙක බැගින් තෝරාගෙන ප්‍රශ්න හයකට පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස - ආර්ථික විද්‍යාව

**1.** (i) මූල්‍ය භාණ්ඩ හෙවත් ආර්ථික භාණ්ඩවල ඇති විශේෂිත ලක්ෂණ පහක් සඳහන් කරන්න. *(ලකුණු 05 යි)*

(ii) 'සූක්ෂම ආර්ථික විද්‍යාව' හා 'සාර්ව ආර්ථික විද්‍යාව' යනු කුමක් දැයි වෙනවෙනම පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

(iii) 'ධනවාදී අර්ථ ක්‍රමයක' ප්‍රධාන ලක්ෂණ මොනවා දැයි පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

**2.** (i) 'සෘජු ඉල්ලුම' හා 'ව්‍යුත්පන්න ඉල්ලුම' වෙනවෙනම පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*

(ii) සැපයුම වැඩිවීම හා එයට සමාන ප්‍රමාණයකින් ඉල්ලුම අඩුවීම පහත සඳහන් රූප සටහන මගින් පැහැදිලි කෙරේ.




මේ අනුව වෙළෙඳපොළ තුළ සිදුවිය හැකි වෙනස්කම් රූප සටහන ඇසුරින් පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

(iii) 'ඒකාධිකාරී තරගය' හා 'පූර්ණ තරගය' අතර සමානකම් හා වෙනස්කම් දක්වන්න. *(ලකුණු 10 යි)*

**3.** (i) 'දළ දේශීය නිෂ්පාදිතය' හා 'දළ ජාතික නිෂ්පාදිතය' යන්න වෙනවෙනම නිර්වචනය කරන්න. *(ලකුණු 05 යි)*

(ii) ජාතික ආදායම ගණනය කිරීමෙන් ලැබෙන ප්‍රයෝජන මොනවා දැයි සඳහන් කරන්න. *(ලකුණු 10 යි)*

(iii) 'පාරිභෝගික අතිරික්තය' හා 'නිෂ්පාදන අතිරික්තය' අදාළ රූපසටහනක් ඇසුරින් පැහැදිලි කරන්න. *(ලකුණු 10 යි)*

**4.** (i) 'මුදලේ ආවස්ථික පිරිවැය' යන්නෙන් අදහස් කරන්නේ කුමක් දැයි කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 05 යි)*

(ii) මහබැංකුව, බැංකුවල බැංකුකරුවා ලෙස ද රජයේ බැංකුව ලෙස ද හඳුන්වාදීමට හේතු පහදන්න. *(ලකුණු 10 යි)*

(iii) 'මුදල් විශුද්ධිකරණය (Money Laundering)' යනු කුමක් දැයි හඳුන්වා ඒ තුළින් ඇතිවන ආර්ථික ප්‍රතිවිපාක මොනවා දැයි විස්තර කරන්න. *(ලකුණු 10 යි)*

[ 2 වන පිටුව බලන්න.

## II කොටස - සාමාන්‍ය වාණිජ දැනුම

5. (i) විෂය කරුණු අනුව ලිපිගොනු වර්ග කර දක්වන්න. (ලකුණු 05 යි)
(ii) විවෘත පිරිසැකැස්ම (Open Office Layout) තුළින් කාර්යාලයකට ලබාගත හැකි වාසි මොනවා දැයි සඳහන් කරන්න. (ලකුණු 10 යි)
(iii) ගොනු සටහනක ඇතුළත් වියයුතු මූලික කරුණු මොනවා දැයි පහදන්න. (ලකුණු 10 යි)

6. (i) නෞභාර පත්‍රයක් (Bill of Lading) අපනයනකරුවකුට වැදගත්වීමට හේතු වන කරුණු පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)
(ii) ප්‍රතිඅපනයන (Re-exporting) වෙළෙඳාම ශ්‍රී ලංකාවට වැදගත් වීමට හේතු වන කරුණු සඳහන් කරන්න. (ලකුණු 10 යි)
(iii) ජාත්‍යන්තර වෙළෙඳාමෙන් මෙරටට ඇති වන අවාසිදායක තත්ත්ව මොනවා දැයි පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

7. (i) ජීඑස්පීප්ලස් (GSP+) ක්‍රමය තුළින් ශ්‍රී ලංකාවට අත් වූ ප්‍රතිලාභ පහක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)
(ii) ආනයන ක්‍රියාපරිපාටිය පිළිවෙළින් පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)
(iii) රටක ආර්ථික සංවර්ධනයට රක්ෂණය දායකවන ආකාරය උදාහරණ සහිතව පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

8. (i) චෙක්පතක් අගරු විය හැකි විවිධ ආකාර සඳහන් කරන්න. (ලකුණු 05 යි)
(ii) සමූපකාර ව්‍යාපාරය පෞද්ගලික අංශය තරමටම කාර්යක්ෂම නොවීමට බලපාන ලද හේතු සඳහන් කරන්න. (ලකුණු 10 යි)
(iii) හවුල් ව්‍යාපාරයක් හා බද්ධ ව්‍යාපාරයක් අතර ඇති වෙනස්කම් පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

## III කොටස - වාණිජ නීතිය

9. (i) ශ්‍රී ලංකා නීති ඉතිහාසයේ ප්‍රධානතම යුග හතර සඳහන් කරන්න. (ලකුණු 05 යි)
(ii) ශ්‍රී ලංකාවේ නීතිය කෙරෙහි බ්‍රිතාන්‍ය බලපෑම පිළිබඳව කෙටි පැහැදිලි කිරීමක් කරන්න. (ලකුණු 10 යි)
(iii) නීතිය හා සමාජය තුළ ඇති සමීප සබඳතාව පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

10. (i) ගිවිසුමක් අවසන් කළ හැකි අවස්ථා මොනවා ද? (ලකුණු 05 යි)
(ii) ගිවිසුමක ඇතුළත් වන කොන්දේසි (Conditions) හා ප්‍රතිඥාභාර (Warranties) යනු කුමක් දැයි හඳුන්වා එහි වැදගත්කම පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)
(iii) "වරදවා දැක්වීම" යනු කුමක් දැයි පැහැදිලි කර එවැනි තත්ත්වයක් යටතේ අලාභ අයකර ගැනීම සඳහා අහිංසකත්වයට පත් වූ පාර්ශ්ව සම්පූර්ණ කළ යුතු අවශ්‍යතා මොනවා දැයි සඳහන් කරන්න. (ලකුණු 10 යි)

11. (i) 'අධිකරණය' යන්න නිර්වචනය කරන්න. (ලකුණු 05 යි)
(ii) අධිකරණයේ කාර්යභාරය පිළිබඳව පැහැදිලි කිරීමක් කරන්න. (ලකුණු 10 යි)
(iii) 'රටක ප්‍රජාතාන්ත්‍රවාදී බව මැනීම සඳහා ඇති කදිම දර්ශකයක් වන්නේ අධිකරණයේ ස්වාධීනත්වයයි.' මෙය විවේචනාත්මකව පහදන්න. (ලකුණු 10 යි)

12. (i) කම්කරු විනිශ්චය සභාවක් විසින් ලබා දී ඇති තීන්දුවකට විරුද්ධව අභියාචනා කිරීමේ දී ඒ ඒ තීන්දුවට අදාළ වන යම් මුදලක් කම්කරු විනිශ්චය සභාවේ තැන්පත් කළ යුතු වේ. එවැනි තීන්දු හා ඒවාට අදාළ වන තැන්පත් මුදල් ප්‍රමාණ ඇතුළත් අවස්ථා තුනක් සඳහන් කරන්න. (ලකුණු 05 යි)
(ii) කම්කරු විනිශ්චය සභාවකට ඉදිරිපත් කළ අයදුම්පතක් විභාග කිරීම කල්දැමීම හෝ අත්හිටුවීම හෝ කළ හැකි අවස්ථා මොනවා දැයි සඳහන් කරන්න. (ලකුණු 10 යි)
(iii) කාර්මික ආරවුලක් ඇති වූ විටෙක දී කම්කරුවන් විසින් කළ යුතු දේ මොනවා දැයි පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

***